**40 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
**General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)**

**සංගීතය (පෙරදිග) I, II**
சங்கீதம் (கீழைத்தேய) I, II
**Music (Oriental) I, II**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

**අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## සංගීතය (පෙරදිග) I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** නිර්දේශිත රාග විස්තරයන්හි සඳහන් ආකාරයට බිලාවල් රාගයෙහි ස්වර අවරෝහණය තෝරන්න.
(1) සං නි ධ ප ම ග රි ස
(2) සං නි ධ ප ම ග ම රි ස
(3) සං නි ධ ප ග ප ම ග ම රි ස
(4) සං නි ධ ප ග ම ප ග ම රි ස

**2.** භූපාලි රාගය අයත් වන ථාටය වන්නේ,
(1) බිලාවල් ය. (2) කල්‍යාණ ය. (3) ඛමාජ් ය. (4) මාර්වා ය.

**3.** රාත්‍රී තුන්වන ප්‍රහරය ලෙස ගානසමය නියමව ඇති රාගය තෝරන්න.
(1) යමන් (2) බිලාවල් (3) භූපාලි (4) කාෆි

**4.** ගාන්ධාරය සහ නිෂාදය පිළිවෙලින් වාදි සහ සංවාදි ස්වර ලෙස යෙදෙන රාගය කුමක් ද?
(1) කාෆි (2) භූපාලි (3) යමන් (4) බිලාවල්

**5.** භෛරවී රාගයෙහි රාග ජාතිය ලෙස සැලකිය හැකි වරණය තෝරන්න.
(1) සම්පූර්ණ - සම්පූර්ණ
(2) ෂාඩව - ෂාඩව
(3) ඖඩව - ෂාඩව
(4) ෂාඩව - සම්පූර්ණ

**6.** කාෆි රාගයට ආවේණික ස්වර සංගතියක් නිවැරදි ලෙස පෙන්නුම් කෙරෙන වරණය කුමක් ද?
(1) රි <u>ග</u> ම <u>ග</u> ම රි ස
(2) රි ම <u>ග</u> ස රි <u>ග</u> ස
(3) රි <u>ග</u> රි ම <u>ග</u> රි ස
(4) රි ම <u>ග</u> රි ම රි ස

**7.** සප්තකයෙහි මධ්‍යම ස්වරය හා සම්බන්ධයෙන් පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් **අසත්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) භූපාලි රාගයෙහි වර්ජ්‍ය ස්වරයක් වේ.
(2) කාෆි රාගයෙහි සංවාදි ස්වරය වේ.
(3) යමන් රාගයෙහි තීව්‍ර ස්වරය වේ.
(4) භෛරවී රාගයෙහි වාදි ස්වරය වේ.

[දෙවෙනි පිටුව බලන්න

**8.** මධ්‍ය ෂඩ්ජයේ සිට උච්ච ෂඩ්ජය දක්වා ස්වර සීමාව තුළ ගසරි, මරිග, පගම යනාදි වශයෙන් යෙදෙන ස්වර අභ්‍යාසයේ අවරෝහණ ස්වර පිළිවෙල යෙදෙන්නේ,

(1) ධස්නි, පනිධ, මධප වශයෙනි. (2) ධපනි, පමධ, මගප වශයෙනි.
(3) ධමප, පගම, මරිග වශයෙනි. (4) ධනිප, පධම, මගප වශයෙනි.

**9.** සෑම මාත්‍රා විභාගයක ම එක සමාන ලෙස මාත්‍රා සංඛ්‍යාවන් **නො යෙදෙන** තාලය තෝරන්න.

(1) කෙහෙර්වා තාලය (2) දාදරා තාලය (3) ත්‍රිතාලය (4) ජප් තාලය

**10.** ඇතිත් වැයෙන අවනද්ධාක්ෂර සංඛ්‍යාව සහ එක් අතකින් වැයෙන අවනද්ධාක්ෂර සංඛ්‍යාව සමාන වන නිර්දේශිත තාල ඇත. එවැනි තාල දෙකක් ඇතුළත් වරණය තෝරන්න.

(1) ත්‍රිතාලය සහ ජප් තාලය (2) ජප් තාලය සහ දාදරා තාලය
(3) දාදරා තාලය සහ දීප්චන්දි තාලය (4) දීප්චන්දි තාලය සහ කෙහෙර්වා තාලය

**11.** ගරි ගප ධනි ස්– ධප මග මරි ස– වශයෙන් යෙදෙන තානාලංකාරය අදාළ වන රාගය වන්නේ,

(1) භූපාලි ය. (2) යමන් ය. (3) බිලාවල් ය. (4) කාෆි ය.

**12.** ගාන්ධාරය වාදි ස්වරය වන සම්පූර්ණ ජාති කල්‍යාණ මේලගත රාගය වන්නේ,

(1) භූපාලි ය. (2) බිලාවල් ය. (3) යමන් ය. (4) කාෆි ය.

**13.** තබ්ලාවේ මුහුණතෙහි ඇතුළත් කොටස්වල නම් සඳහන් වන වරණය තෝරන්න.

(1) සට්ඨා, ලවය, චාන්ටිය (2) චාන්ටිය, සට්ඨා, ස්‍යාහි
(3) ස්‍යාහි, සට්ඨා, ලවය (4) ලවය, ස්‍යාහි, චාන්ටිය

**14.** නාදයෙහි ත්‍රිවිධ ගුණ ලෙස හඳුන්වා ඇති විපුලතාවය, තාරතාවය සහ ධ්වනි ගුණය යන කරුණු, භාරතීය සංගීත සිද්ධාන්ත අනුව පිළිවෙලින් දක්වා ඇති වරණය තෝරන්න.

(1) උච්ච නීච භේදය, ජාති භේදය, රූප භේදය
(2) ජාති භේදය, රූප භේදය, උච්ච නීච භේදය
(3) රූප භේදය, උච්ච නීච භේදය, ජාති භේදය
(4) උච්ච නීච භේදය, රූප භේදය, ජාති භේදය

- අංක **15** සහ **16**හි සඳහන් ප්‍රශ්න සඳහා පහත ස්වර ප්‍රස්තාරය ඇසුරින් පිළිතුරු සපයන්න.

| | | | |
|---|---|---|---|
| ස ධ̲ ප ධ̲ | ම ප ග̲ ම | නි̲ ධ̲ – ස | – රි̲ ග̲ ම |
| ග̲ රි̲ ස – | ධ̲ නි̲ ස රි̲ | නි̲ ස ම ම | ග̲ ග̲ රි̲ ස |
| 0 | 3 | x | 2 |

**15.** ඉහත ස්වර ප්‍රස්තාරයෙන් පිළිබිඹු වනුයේ, භෛරවී රාගයට අදාළ

(1) ඛ්‍යාල් ගීතයක අන්තරා කොටසයි. (2) සර්ගම් ප්‍රබන්ධයක ස්ථායි කොටසයි.
(3) ලක්ෂණ ගීතයක අන්තරා කොටසයි. (4) මේලයෙහි ස්ථායි කොටසයි.

**16.** ඉහත ස්වර ප්‍රස්තාරයට අදාළ නිර්දේශිත හින්දුස්තානි තාලය වන්නේ,

(1) ත්‍රිතාලයයි. (2) ජප් තාලයයි.
(3) කෙහෙර්වා තාලයයි. (4) දීප්චන්දි තාලයයි.

**17.** තත් වාද්‍ය, සුෂිර වාද්‍ය සහ අවනද්ධ වාද්‍ය යන භාණ්ඩ වර්ග තුන සඳහා සුප්‍රසිද්ධ ඉන්දියානු සංගීතඥයින් තිදෙනෙකු පිළිවෙලින් සඳහන් කර ඇති වරණය තෝරන්න.

(1) ශකීර් හුසේන්, හරිප්‍රසාද් චෞරසියා, රවි ශංකර්
(2) රවි ශංකර්, ශකීර් හුසේන්, හරිප්‍රසාද් චෞරසියා
(3) හරිප්‍රසාද් චෞරසියා, රවි ශංකර්, ශකීර් හුසේන්
(4) රවි ශංකර්, හරිප්‍රසාද් චෞරසියා, ශකීර් හුසේන්

[තුන්වෙනි පිටුව බලන්න

**18.** ස්වර පුවරුවක් සහිත සුෂිර වාද්‍ය ගණයට අයත් වාද්‍ය භාණ්ඩයක් වන්නේ,
(1) පියානෝව ය.
(2) ග්ලොකන්ස්පීල් ය.
(3) එකෝඩියන් ය.
(4) සින්තසයිසරය ය.

**19.** ගොයම් දා මඟුල, මාර පරාජය සහ මහාභිනිෂ්ක්‍රමණය යන සංධ්වනි නිර්මාණය කරන ලද්දේ,
(1) ඩබ්ලිව්.බී. මකුලොලුව මහතා විසිනි.
(2) ලයනල් රන්වල මහතා විසිනි.
(3) සී.ද.එස්. කුලතිලක මහතා විසිනි.
(4) ප්‍රේමසිරි කේමදාස මහතා විසිනි.

**20.** බලි ශාන්තිකර්මයේ ඇතුළත් 'ඇඹීමේ කවි' පාදක කොටගෙන, ලයනල් රන්වල සූරීන් විසින් නිර්මාණය කරන ලද ගීතය තෝරන්න.
(1) "සැඳෑ කළුවර කුර ගගා විත් ..."
(2) "රුක් අත්තන මල මුදුනේ ..."
(3) "මේ අවුරුදු කාලේ හිනා වෙයන් රාලේ ..."
(4) "වන්නම් සවිදම් ගායන ..."

**21.** සොළොස්මත් පැදියකට අයත් කවි පාදය තෝරන්න.
(1) සඳවා සුදු වැලි පිවිතුරු
(2) රිගත් සුරා පිරූ විතින්
(3) රූ රැසේ අඳිනා ලෙසේ අත්
(4) මන්මත් කරවන දන මුළු දෙරණා

**22.** ගැමි ගීවල දක්නට ලැබෙන සුවිශේෂී ලක්ෂණයක් වන්නේ,
(1) මුඛ පරම්පරාවෙන් පැවතීමයි.
(2) නාද මාලා සංකීර්ණ වීමයි.
(3) නිර්මාණකරුවෙකු නම් කළ හැකි වීමයි.
(4) වියත් බස් වහර යොදාගෙන තිබීමයි.

**23.** ජන ගී වර්ගීකරණය අනුව සමාජයීය ගී ගණයට අයත් වන ගී පාදය තෝරන්න.
(1) ඉපල් පිටින් ගහන අව්ව පිටට ඉහිර වන්නේ
(2) උදයට පායන හිරු දෙවියන්ටයි
(3) අතට වෙරළු ඇහිඳ ගෙනේ
(4) දෙසවන ලා රන් තෝඩු උදාරා

**24.** නල දමයන්ති මුද්‍රා නාට්‍යයේ ඇතුළත් "ඈත කඳුකර හිමව් අරණේ" ගීතය ගායනය කරන ලද්දේ,
(1) අයිවෝ ඩෙනිස් විසිනි.
(2) ඩබ්ලිව්.ඩී. අමරදේව විසිනි.
(3) ගුණදාස කපුගේ විසිනි.
(4) නාරද දිසාසේකර විසිනි.

**25.** 60-70 දශකයන්හි හින්දි චිත්‍රපට සංගීතය සඳහා දායක වූ විශිෂ්ට ඉන්දියානු සංගීතඥයින් දෙදෙනෙකුගේ නම් ඇතුළත් වරණය තෝරන්න.
(1) ගුලාම් මොහොමඩ් සහ එස්.එස්. වේදා
(2) මොහොමඩ් ගවුස් සහ නාරායන් අයියර්
(3) මුත්තුසාමි සහ රොක්සාමි
(4) ශංකර් සහ ජායිකිෂන්

**26.** "කඳුළු හෙළා නැඹිලියට සහල් ගරන අම්මා ..." යන මව් ගුණ ගීතය සඳහා පාදක වී ඇති නාද රටාව ඇතුළත් ගී/කවි විශේෂය කුමක් ද?
(1) කෝලම්
(2) වැළපුම්
(3) පතල්
(4) බඹර

**27.** පැරණි නාඩගම් ගීතයක පද කිහිපයක් සහ නව නාට්‍ය ගීතයක පද කිහිපයක් පිළිවෙලින් සඳහන් කර ඇති වරණය තෝරන්න.

(1) ‘ගගන රිවි සොමි’ සහ ‘ලප නොමවන් සඳ’
(2) ‘ආලේ බැන්ද’ සහ ‘අම්බරයේ සඳ සේ දිලේ’
(3) ‘දස දෙස ඉන්ද්‍රා’ සහ ‘රුසිරු ළඳුනි’
(4) ‘ලෝ පසිඳු’ සහ ‘පින් සරු ධීරා’

**28.** G A B$^b$ C D E$^b$ F G වශයෙන් ස්වර යෙදෙන බටහිර ස්කේලය නම් කර ඇති වරණය තෝරන්න.

(1) C Major scale (2) G Major scale
(3) C Minor scale (4) G Minor scale

**29.** | ම — — | ප — — | ධ — — | — — — | යන ස්වර පාදය සමග සුසංගත (Harmony) කිරීම සඳහා වඩාත් සුදුසු ස්වර පාදය කුමක් ද?

(1) | ධ — — | ප — — | ම — — | — — — |
(2) | ප — — | නි — — | රි̇ — — | — — — |
(3) | ධ — — | නි — — | ස̇ — — | — — — |
(4) | රි — — | ස — — | නි̣ — — | — — — |

**30.** පහත දැක්වෙනුයේ ගිටාරයක කෝඩ් (Chord) එකක් සඳහා ඇඟිලි යොදා ගැනෙන ආකාරයයි.




එම කෝඩ් එක නම් කෙරෙනුයේ,

(1) C Major නමිනි. (2) F Major නමිනි.
(3) D Major නමිනි. (4) G Major නමිනි.

**31.** අපරදිග ස්වර ප්‍රස්තාරකරණයේ දී මාත්‍රා හතරක නිශ්ශබ්දතාවය පෙන්නුම් කිරීම සඳහා යෙදෙන නිවැරදි සංකේතය ඇතුළත් වරණය තෝරන්න.

(1) 

(2) 

(3) 

(4) 

**32.**




ඉහත A සහ B රූප සටහන්වලින් දක්වා ඇති ස්වර පෙරදිග සංගීත ක්‍රමය අනුව හඳුන්වන්නේ,

(1) A - ශුද්ධ මධ්‍යමය සහ B - ගාන්ධාරය වශයෙනි.
(2) A - ශුද්ධ මධ්‍යමය සහ B - තීව්‍ර මධ්‍යමය වශයෙනි.
(3) A - ගාන්ධාරය සහ B - තීව්‍ර මධ්‍යමය වශයෙනි.
(4) A - තීව්‍ර මධ්‍යමය සහ B - කෝමල ධෛවතය වශයෙනි.

**33.** T, St, T, T, St, T, T යනාදි පිළිවෙල අනුව (Tone සහ Semitone සංකල්පය) ගොඩනැගී ඇති ස්කේලය තෝරන්න.

(1) ස රි ග ම ප ධ නි ස්
(2) නි̣ ස රි ගු ම ප ධ නි
(3) ස රි ගු ම ප ධු නි ස්
(4) නි̣ ස රි ගු ම ප ධු නි

**34.** ස්ථායි සහ අන්තරා වශයෙන් යෙදෙන ගීත ආකෘතියෙන් යුත් ගීත වැඩි වශයෙන් ඇතුළත් රංග ශෛලිය වන්නේ,

(1) නාඩගම් ය. (2) නූර්ති ය. (3) සොකරි ය. (4) කෝලම් ය.

**35.** නාඩගම් ගීත සහ නූර්ති ගීත යන ගීත වර්ග දෙකෙහි ගායන අංග පිළිවෙලින් සඳහන් වන වරණය තෝරන්න.

(1) උරුට්ටුව සහ දොහොරාවයි.
(2) ඉන්නිසය සහ තර්ගයයි.
(3) දොහොරාව සහ තානාලංකාරයි.
(4) දොහොරාව සහ තෝඩායමයි.

**36.** රන්මුතු දූව හා ගැටවරයෝ යන චිත්‍රපටයන්හි සංගීතය සඳහා දායක වී ඇති සංගීතඥයා වනුයේ,

(1) සෝමදාස ඇල්විටිගල ය.
(2) ඩබ්ලිව්.ඩී. අමරදේව ය.
(3) පී.එල්.ඒ. සෝමපාල ය.
(4) ප්‍රේමසිරි කේමදාස ය.

**37.** 'සැඩ සුළං' චිත්‍රපටයේ ගීත ගායනය සඳහා දායක වී ඇති ගායිකාවන් දෙදෙනෙකු වනුයේ,

(1) ජී.එස්.බී. රාණි සහ ලතා මංගේෂ්කර් ය.
(2) ජමුනා රාණි සහ ලතා වල්පොල ය.
(3) ලතා වල්පොල සහ ලතා මංගේෂ්කර් ය.
(4) ජමුනා රාණි සහ ලතා මංගේෂ්කර් ය.

**38.** බෙර පදය, තානම, කවිය සහ ඉරට්ටිය යන කොටස් ඇතුළත් වන්නම වනුයේ,

(1) උකුසා වන්නමයි.
(2) හනුමා වන්නමයි.
(3) සින්දු වන්නමයි.
(4) සැවුලා වන්නමයි.

**39.** කිසියම් සංගීතයක් පරිගණකගත කිරීමේ දී (තැන්පත් කිරීමේ දී) Rip කිරීම සඳහා භාවිත කළ හැකි උපාංගය කුමක් ද?

(1) Windows media player
(2) K.M. player
(3) Blue key player
(4) C.D. player

**40.** ගීතයක් ගායනය කර, එය පරිගණකය තුළ පටිගත කළ හැකි මෘදුකාංගයක් තෝරන්න.

(1) Indesign (2) Pagemaker (3) Adobe audition (4) Word

**

40 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)

**සංගීතය (පෙරදිග) I, II**
சங்கீதம் (கீழைத்தேய) I, II
Music (Oriental) I, II

## සංගීතය (පෙරදිග) II

✻ **පළමුවන** ප්‍රශ්නය ඇතුළු ව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
✻ සියලු ම ප්‍රශ්න සඳහා ලකුණු 12 බැගින් හිමි වේ.

**1.** අංක (i) සිට (iv) තෙක් අසා ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු ප්‍රශ්න අංකය ද සමගින් ඔබේ පිළිතුරු පත්‍රයෙහි ලියන්න.

(i) කල්‍යාණ මේලයට අයත් නිර්දේශිත ඖඩව ජාති රාගය නම් කරන්න.
(ii) "සස රිරි ගුගු මම ප –" වශයෙන් මුඛ්‍යාංගය යෙදෙන රාගයේ ආරෝහණ ස්වර ලියා දක්වන්න.
(iii) එක් ආවර්තයකට මාත්‍රා දාහතරක් බැගින් යෙදෙන හින්දුස්තානි තාලය නම් කරන්න.
(iv) දේශීය ජන නාද මාලා ඇසුරෙන් ඩබ්ලිව්.බී. මකුලොලුව සූරීන් විසින් නිෂ්පාදනය කරනු ලැබූ නිර්දේශිත ගීත නාට්‍යය නම් කරන්න.

- අංක (v) සිට (viii) තෙක් ප්‍රශ්න සඳහා පිළිතුරු ලිවීමට පහත සඳහන් ගී පාද උපයෝගි කරගන්න.
    - ඇඩි කළ මාතා පෙම්බර මාතා
    - දුලා නෙතුපුලා දිසි ස්වර්ණ ලතා සේ මෙ ළඳා
    - ලක්ෂ්මී භුජවාසා සතතු ජය
    - රන් මලක් ලෙස දෙව් බඹුන් දෝතින් පිදූ මේ පින් බිමේ
    - මුහුදු පතුල යට ඉඳලා මුතු ඇටයක නිදි කරවා

(v) 'මුද්‍රප්පදය' නම් කොටස ඇතුළත් වන ගීතයට අදාළ ගී පාදය තෝරා ලියන්න.
(vi) දීප්චන්දි තාලයට අනුව ගැයෙන ගී පාදය තෝරා ලියන්න.
(vii) 'රුක්මණී දේවී' ගායිකාව විසින් ගයනු ලැබූ ග්‍රැමෆෝන් ගීතයකට අයත් ගී පාදය තෝරා ලියන්න.
(viii) මනමේ නාට්‍යයෙහි ඇතුළත් ගීතයකට අදාළ ගී පාදය තෝරා ලියන්න.

(ලකුණු 01 × 08 = 08 යි)

- අංක (ix) සහ (x) ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු ප්‍රශ්න අංකය ද සමග ඔබේ පිළිතුරු පත්‍රයෙහි ලියන්න.

(ix) වයලීනයක තත් හින්දුස්තානි රාගධාරි ක්‍රමයට අනුව ………… වශයෙන් ද, අපරදිග ක්‍රමයට අනුව ………… වශයෙන් ද සුසර කරනු ලැබේ.

(x) 'සැඩ සුළං' චිත්‍රපටයේ ගී තනු නිර්මාණය කරන ලද්දේ …………………… විසින් වන අතර, …………………… විසින් එහි සංගීත අධ්‍යක්ෂණය කරන ලදී.

(ලකුණු 02 × 02 = 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

**2.** (i) පහත A, B, C අක්ෂර යටතෙහි සඳහන් රාග සංගතිවලින් පිළිබිඹු වන හින්දුස්තානි රාග තුනෙහි නම් අදාළ ඉංග්‍රීසි අක්ෂරය සමග ලියන්න.

A ප රි, ග රි නි ධ, නි රි ස

B ප ග, ධ ප ග රි, ස ධ ස

C ග ප, ම ග ම රි, ස රි ස (ලකුණු 03 යි)

(ii) ඉහත ස්වර සංගතිවලින් පිළිබිඹු වන රාග තුනෙන් ඔබ කැමති රාගයකට අයත්,

- මධ්‍යලය ඛ්‍යාල් ගීතයක හෝ ලක්ෂණ ගීතයක හෝ ස්ථායි කොටසෙහි ගීත ස්වර ප්‍රස්තාරය ලියන්න.

**නැතහොත්**

- එම එක් රාගයකට අයත් මධ්‍යලය වාදිතයක ස්ථායි කොටස ස්වර ප්‍රස්තාර කර, මාත්‍රා 08කට නො අඩු තානාලංකාර දෙකක් තාලානුකූලව ප්‍රස්තාර කරන්න. (ලකුණු 06 යි)

(iii) ජප් තාලයෙහි ඨේකාව නියමිත මාත්‍රා විභාග අනුව තාල සංකේත සහිතව ප්‍රස්තාර කරන්න. (ලකුණු 03 යි)

**(මුළු ලකුණු 12 යි)**

**3.** (i) රාගධාරී සංගීතයෙහි ලක්ෂණ ගීතවල ඇතුළත්, සුවිශේෂී ගුණාංග **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) ෂඩ්ජය සංවාදි ස්වරය ලෙස යෙදෙන සම්පූර්ණ ජාතියට අයත් නිර්දේශිත රාග **දෙක** නම් කර, ඊට අදාළ 'ගානසම', අදාළ රාගවල නම් ඉදිරියෙන් ලියන්න. (ලකුණු 04 යි)

(iii) කෝමල ස්වර සහිත නිර්දේශිත රාගයක් නම් කර, එම රාගයට අදාළව ස්වර රචනාවක් ත්‍රිතාලයෙහි ආවර්ත **දෙකක්** සම්පූර්ණ වන අයුරින් නිර්මාණය කර ප්‍රස්තාර කරන්න. (ලකුණු 06 යි)

**(මුළු ලකුණු 12 යි)**

**4.** (i) "ප්‍රශස්ති හා හටන් යනු මහනුවර යුගයේ දී ප්‍රචලිත වූ ගීත විශේෂයන් දෙකකි." ඒ ආශ්‍රිතව ලියවුණු ග්‍රන්ථ **දෙකක්** වෙන වෙන ම පිළිවෙලින් ලියා දක්වන්න. (ලකුණු 02 යි)

(ii) පහතරට සින්දු වන්නම්වල සුවිශේෂ ලක්ෂණ **හතරක්** ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) උකුසා වන්නමේ තිත නම් කර, එම වන්නමට අදාළ කවියක පද ප්‍රස්තාරය ලියා දක්වන්න. (ලකුණු 06 යි)

**(මුළු ලකුණු 12 යි)**

**5.** පහත වගුව සකසා ඇත්තේ පැරණි නාඩගම්, නාඩගම් ගීත, නව නාට්‍ය හා නව නාට්‍ය ගීත සම්බන්ධයෙනි. වගුවේ කරුණු තිරස් අතට ගැළපීමේ දී එම කරුණු අතර අන්‍යෝන්‍ය සම්බන්ධතාවක් පෙන්නුම් කරයි.

| පැරණි නාඩගම් ගීතය | පැරණි නාඩගම | නව නාට්‍ය ගීතය | නව නාට්‍යය |
|---|---|---|---|
| පවර පසිඳු | බ්‍රම්පෝඩි | (A) ................ | මනමේ |
| (B) ................ | ඉයුජින් | රුසිරු ළඳුනි | මනමේ |
| යානත අතුළ මල් පෙති | (C) ................ | බුදුතුල් ගුණැති | සිංහබාහු |
| පින් සරු ධීරා | වෙස්සන්තර | දස දෙස ඉන්ද්‍රා | (D) ................ |

(i) වරහන තුළ දී ඇති කරුණු උපයෝගී කර ගනිමින් ඉහත වගුවෙහි A, B, C සහ D යටතෙහි දී ඇති හිස්තැන් සඳහා නිවැරදි පිළිතුරු ලියන්න.
(ඉයුජින්, සිංහබාහු, ලප නොම වන් සඳ, මෙමගින් ගිය, ඇහැලේපොළ) (ලකුණු 04 යි)

(ii) සොකරි හා කෝලම් රංග ශෛලීන් සඳහා භාවිත වන සාම්ප්‍රදායික වාද්‍ය භාණ්ඩ **හතරක්** නම් කරන්න. (ලකුණු 04 යි)

(iii) නාඩගම් හා නුර්ති රංග ශෛලීන්ට අදාළව පහත වගුව සම්පූර්ණ කරන්න.

| රංග ශෛලීන් | අදාළ සංගීත පද්ධතිය | ඉන්දියානු සංගීතඥයෙකුගේ නම |
|---|---|---|
| නාඩගම් | A ...................................... | B ...................................... |
| නුර්ති | C ...................................... | D ...................................... |

(ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

**6.**



(i) ඉහතින් දැක්වෙනුයේ නිර්දේශිත චිත්‍රපට ගීතයකට අදාළ අපරදිග ස්වර ප්‍රස්තාර කොටසකි. එය පෙරදිග ක්‍රමයට පෙරළා තාලානුකූල ලෙස ප්‍රස්තාර කරන්න. (ලකුණු 08 යි)

(ii) එම ස්වර ප්‍රස්තාරයට අයත් ගීතය ඇතුළත් චිත්‍රපටය හා අදාළ ගායකයා හෝ ගායිකාව නම් කරන්න. (ලකුණු 02 යි)

(iii) ඉහත අපරදිග ස්වර ප්‍රස්තාරයට අනුව එය අයත් වන ස්කේලය (scale) නම් කරන්න. (ලකුණු 02 යි)

**(මුළු ලකුණු 12 යි)**

**7.** පහත සඳහන් ප්‍රශ්න අතුරෙන් **තුනක්** තෝරාගෙන පිළිතුරු සපයන්න.

(i) සමග්‍රහ, විෂමග්‍රහ සහ අවග්‍රහ යන කරුණුවලින් **දෙකක්** උදාහරණ දක්වමින් කෙටියෙන් විස්තර කරන්න.

(ii) මුල් යුගයේ ගුවන් විදුලි සරල ගී අතුරෙන් සුනිල් සාන්ත විසින් ගයන ලද ගීත **දෙකක්** සහ ආනන්ද සමරකෝන් විසින් ගයන ලද ගීත **දෙකක්** වෙන වෙන ම නම් කරන්න.

(iii) මොසාර්ට් හා බීතෝවන් යන අපරදිග සංගීතඥයින්ගේ සංගීත නිර්මාණ **දෙක** බැගින් (4 ක්) අදාළ සංගීතඥයින්ගේ නම් ඉදිරියෙන් ලියන්න.

(iv) ඔබ විසින් තෝරාගනු ලබන ස්වර වාද්‍ය භාණ්ඩයක දළ රූප සටහනක් ඇඳ එහි කොටස් **හතරක්** නම් කරන්න.

(v) පහත සඳහන් ස්වර රචනාවේ, නැවත නැවත යෙදෙන කොටස් සැලකිල්ලට ගෙන, මෙරට සරල සංගීත ප්‍රස්තාර ක්‍රමයට අනුව සංකේත භාවිත කර නැවත ප්‍රස්තාර කරන්න.

| | | | |
|---|---|---|---|
| ස රි ග | ස රි නි̣ | ස – – | රි ස – |
| ස රි ග | ස රි නි̣ | ස – – | රි ස – |
| ප̣ ස – | ප̣ ස – | ප̣ ස – | රි ග – |
| ම ග රි | ග ස – | ම ග රි | ග ස – |

**(ලකුණු 04 × 03 = 12 යි)**

* * *